# ප්‍රකාශන නිවේදන

"සුදෝසුදූ" සම්පාදනය කළ කෘතහස්ත කවීන්ද්‍රයා 'කේයස්' නම් ආරූඪ නාමයකින් පෙණී සිටින්නේ සුදෝසුදූ එයින් ම හඳුන්වා දීමට විය හැකියි. කේයස් නිර්මාණ ශක්තියෙන් පමණක් නොව තැනට ඔබින ලෙස පදයත් රසයත් යෙදීමෙහි මහත් පුරුද්දක් ඇත්තෙකු බවත් ගමේ ඕපාදූප කතාවෙහි මෙන් ම සෞන්දර්‍ය කථනයෙහි දී ගත් මග දෙස බලන විට නම කෙසේ වුව ද ඔහුගේ කවිත්වය ආරූඪ නාමයෙන් සඟවා ලන්නට නො හැකි වූ බවත් පෙණේ. සමන් මලට අමුතු නාමයක් යෙදුව ද වටිනාකම අඩු කළ නො හැකි.

කේයස් මේ රසවත් කථාව උසස් අදහසක් උඩ රචනා කරණ ලද්දකි. සමාජයේ ඉතා දුර්ලභ චරිත දෙකක් වන මෙය මනෝවිද්‍යාත්මක ධර්මයක් විස්තර කරයි. රාගීය මාත්සර්යයෙන් තොර සුන්දර චරිතයක් ව්‍යක්ත ලෙස ව්‍යවහාර සරල සිංහල භාෂාවෙන් රචනය කළ කේයස්ගේ 'සුදෝසුදූ' **මහා කවි ටෙනිසන්ගේ ඉනොකාඩන්** සමග සම අසුන් ගෙන සිටින්නේ ය.

කියවන්නා විටින් විට බලාපොරොත්තු වන දෙය අත් අතකට හරවා පුදුමයකට පත් කරන ආකාරය මෙහි විශේෂ ප්‍රාතිහාර්යයකි. අසු වූ තැන නො හැර දිගට වර්ණනා කරණ සිංහල කවියාගේ දුබල පුරුද්දට උපහාස කරන්නාක් මෙන් කේයස් රසවත් පුවත් කියන්නේ ඉතා කෙටියෙනි. එහෙත් කියවන්නාට එය කවදවත් අමතක නො වන සුන්දර සිද්ධියක් කොට දක්වීමෙහි කේයස් තුළ දක්නා ලැබෙන ශක්තිය සිංහල කවියන් විසින් ආශාවෙන් ප්‍රාර්ථනා කළ යුතු දෙයක් බවට පත් වී තිබේ. කතා පුළුන ඇන නො හිට ගලා යන ලීලාව මනොඥය.

කේයස්ගේ "සුදෝසුදූ" කියවීම ලෝකය පිළි ගන්නවා ඇත්තේ මහත් ආදරයකින් බව අපගේ විශ්වාස යයි. මෙය කවියන්ට පමණක් නොව සාමාන්‍ය මහජනයාට ද කියවා රස විඳිය හැකි ශ්‍රෙෂ්ඨ පංක්තියේ රසවත් කාව්‍යයකි.

---

ආණ්ඩුවේ අභ්‍යාස විද්‍යාලයාධිපති ව සිටි

අධ්‍යාපනාධ්‍යක්ෂ

**ශාස්ත්‍රාචාර්ය එච්. ඇස්. පෙරේරා**

**මහතානන්ට**

ගෞරවාදරයෙනි. K A.S.

# ප්‍රස්තාවනා

ටෙනිසන්ගේ ඊනොක් ආඩ්න් පසසන්නවුන් අද ඉතා විරල බැව් **කශාමියන්** කියයි. එහෙත් කේයස්ගේ සුදෝසුදූ පිළිබඳ ව එබන්දක් කියන්නට අනාගත සිංහල සාහිත්‍ය විවේචකයන්ට අවසරයක් නො ලැබෙතැයි සිතමි.

සිංහල **සුදෝසුදූ** කිහිප අතකින් ම ඉංගිරිසි **ඊනොක් ආඩ්න්** ජය ගනියි. කේයස් කළේ **ටෙනිසන්ගෙන්** පැහැර ගැනීමක් නො වේ. ඔහුට විරුද්ධ ජයග්‍රාහක ආක්‍රමණයකි. ඉංගිරිසි කවියා ඇතැම් තැනෙක ස්වීය වාග් ප්‍රපංචයට හා වාගාඩම්බරයටත් අනවශ්‍ය වර්ණනාවන්ටත් ඉඩ දී කථාව අමතක කරයි. ඒහෙත් සිංහල කවියා එබන්දෙකින් ආබාධිත වූ සිය කථාව නිරවුල් ව කියාගෙන යයි.

මෙ තෙක් මෙ බඳු කවක් සිංහලෙන් ලිය වී ඇති බවක් දැන-ගන්නට නැත. කථා කාව්‍ය සංඛ්‍යායෙහි ලා ගිණිය හැකි කෘතීන් ඇතත්, ඒ හැම තැනක ම කථාව කියනුවට වඩා කිවියාගේ පරමාර්ථය වූයේ, කථාව දඩමීමා කොට ගෙන, එයට කිසිත් සම්බන්ධයක් නැති අනවශ්‍ය වර්ණනයන්ගෙන් තමාගේ කවිත්වය ප්‍රදර්ශණය කිරීම බැව් පෙනේ. කේයස් සිය කවිත්වය කථාවට කැප කරයි. සුදෝසුදූයෙහි චරිතයන් මෙන්, කිවියා ද කෙළේ ආත්ම පරිත්‍යාගයකි. ඔහුගේ කවිත්වය නම් කිවි බැව් පෙනෙන්නට තැත් නො කිරීම යී.

සුදෝසුදූයෙහි ඇති ප්‍රධාන ලක්ෂණය නම් එහි ඇති සාරල්‍යය යී. අමායාවී ගැමියන් තිදෙනෙකුත් තුළ පැවති මාත්සර්‍යයෙන් තොර වූ අකලංක ප්‍රේමය පිළිබඳ මේ කථාව ඊට ම යෝග්‍ය වූ සරල භාෂාවෙන් කියැවෙයි. ඔවුන්ගේ චරිතයෙහි කිසි තැනක කිළුටක් මායාවක් නැත. **පිළිප්**ගේ සිත බලන්නට **ඇනී** කල් දමයි. එහෙත් **හීන් මැණිකේ ටිකිරි බණ්ඩාට** කල් දුන්නේ එ බඳු ස්ත්‍රී මායමක් නිසා නොව **අදිරියන්** පිළිබඳව පැවති අවංක ප්‍රේමය සහ බලාපො-රොත්තුව නිසා ය. **අදිරියන්** පිළිබඳව මෙන් ම ටිකිරි බණ්ඩා පිළිබඳ වත් හීන් මැණිකේ තුළ පැවැති ප්‍රේමයෙහි කිසිත් වෙනසක් නොවූ බැව්, ඔවුනොවුන් කථා නො කරන්නාක් මෙන් ම කිවියා ද වචනයෙන් නො කියයි. එහෙත් ඔවුන්ගේ එක්වීම පිළිබඳව දෙතන්හි එකම කවියක් යෙදීමෙන් ඊට වඩා ව්‍යක්ත ලෙස එය පැහැදිළි කරයි. (34,115 බලනු) වෙනසකට වූයේ අදිරියන් ගේ **ගේවෙනුවට ටිකිරිගෙ** වලව්වයි. එහෙත් ගෙයි දී වුවත් වලව්වේ දී වුවත් රන් රසයන්ගේ **එක්වීමෙහි වෙනසක්** වෙයි ද?

ඊනොක් ආඩ්න්හි වූ -

"And when they buried him the little port
Had seldom seen a Costlier |funeral"

යන අවසන් දෙ පෙළින් ටෙනිසන් කෙළේ සම්බලට කහ දැම්මකි. එහි ඇති අවංක අව්‍යාජ සරල පේමයටත් චාං ජීවිතයටත් ඉන් කැළල් විය. එහෙත් කේයස්ගේ සුදෝසුදුවට එබඳු කිළුටක් නො වී ය. ටිකිරිබණ්ඩාර රටට පෙන්වන්නට ලොකු භූමදනයක් නො කෙළේය. එහෙත්

වලව්වෙ ඉදිරිපිට වත්තේ කොණ ක<br>
අදිරිගෙ සොහොන්කොත ලඟ තැනු මල් පැල ක<br>
මැණිකෙයි අඳ පුත යි ටිකිරි යි හැම දිනෙ ක<br>
මල් පහන් පුදනු කාටත් බැලිය හැ ක

සුදෝසුදුවෙහි දක්වෙන චරිතයන්ගේ පවිත්‍ර නො කැළල් පේමය ද ගම්බද අව්‍යාජ අවංක ජීවිතය ද, ඒ ජීවිතයෙහි වූ ධාර්මික ශාන්තිය ද දිනපතා සවස පොල් තෙල් මැටි පහනක් දල්වෙන මේ මල් පැලෙහි ගැබ්වී ඇත.

මහාචාය්‍ය වල්පොල රාහුල හිමි

❋ ❋ ❋

කවිය කවියෙන් ම අඳුනා දීමට ඉඩ තබා මම සැඟවෙන්නෙමි කලාකාරයා සැඟ වී කලාවට පෙණී සිටීමට අවකාශ දීම වඩා හොඳ හෙයිනි.

'The artist is the creator of beautiful, things
To reveal art and Conceal the artist is arts'aim'

කතෘ.

**1, ජනවාරි 1943**

---

බලපත්‍රය යොමු අංකය අ ග්‍ර ම /2/ 3237

**සුදෝසුදු - කේයස්**

1952 පෙබරවාරි මස 26 වැනි දින නිකුත් කරන ලද ලංකාණ්ඩුවේ ගැසට් පත්‍රයෙහි පළ වූ උපකෘත, ස්වභාෂා, ද්වීභාෂා හා ඉංග්‍රීසි පාඨශාලාවන් පිළිබඳ ව්‍යවස්ථා සංග්‍රහයේ "19ඒ" ඡේදය යටතේ අධ්‍යාපන අධ්‍යක්ෂ ජනරාල් තුමා විසින් පුස්තකාල පොතක් වශයෙන් අනුමත කරන ලදී.

හෙ. දො. ධර්මවර්ධන<br>
අධ්‍යාපන ග්‍රන්ථ ප්‍රකාශන උපදේශක<br>
මණ්ඩලයේ ලේකම්

**1984** අප්‍රේල් **9** වැනි දින,<br>
කොළඹ 2 මැලේ වීදියේ,<br>
අධ්‍යාපන ග්‍රන්ථ ප්‍රකාශන උපදේශක මණ්ඩලයේ දී ය.

---

නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

# සුදෝසුදු

1 ගොඩ මඩ දෙක ම සරු සාරය පල බරය<br>
කටුරොද ගම්මානා තරමක පිටි සරය<br>
ඒ ගම මැදින් ගලනා ගඟ මන හරය<br>
කඩ මංඩිය පිහිටියේ ගම කෙළ වරය

2 ගමේ රාළහාමිගෙ පුත් වන ටිකිරි-<br>
බණ්ඩා තව ළදරුවා සත් වඳ සපිරි<br>
ඔහි ගොවිරාළ කෙනෙගෙ අතු වන අදිරි<br>
අට අවුරුදු වයස් කොලුවෙකි ඇති දහිරි

3 වැන්දඹු අංගොහාමිගෙ සුරතල් දූ ව<br>
යන්තම් පස් වසයි විසි අට වෙනි ද ට<br>
දුප්පත් කෙල්ල නො සිටියෙ නම් මේ ලා ට<br>
සැකයක් නැත අංගො පරලොව වැඩියා ට

4 මේ දරුවන් තිදෙන ගඟ වැලි ක ලා ව ට<br>
සෙල්ලම් පිණිස එති සමහර වෙ ලා ව ට<br>
අදිරිය කටුරොදේ මුළු ගම ප ළා ත ට<br>
ගජ හපනා තමයි බට ලී න ලා ව ට

5 ගතින් දුබල මුත් ටිකිරි ද නො නිවට ය<br>
නමුත් නිතර වූයේ ගුඩු ඇ දූ ම ට ය<br>
හැම සෙල්ලමේ දී ම ගහනා හ රි ගැ ට ය<br>
කවදත් පාහෙ ජය හැඩි දැඩි අ දි රි ට ය

6 'හීන් මැණිකෙ' මේ අංගොගෙ දූවගෙ න ම<br>
ඒකී එක වාගෙ කැමතියි දෙ දෙනාට ම<br>
ඉඳ හිට පැන නගින කොට අඬ දබර ක ම<br>
ඈ මැදහත් ව සංසිඳුවයි හැම විට ම

7 'හීන් මැණිකෙ මගෙ' කියමින් කී    ටිකිරි-
බණ්ඩගෙ බසට කිපිලා හැඩි දැඩි    අදිරි
බහින් බස් වෙලා ගහ ගැණුමට    ඉදිරි-
පත් වූ කිප වේලාවක මේ    ලදැරි

8 'ගහ ගන්නට එපා දෙන්නාට ම    බිරිඳ
වෙන්නම් නුඹල දෙන්නම මාගේ    නොවෙද
සෙල්ලම් කරමු ඇයි මේ කලබල    මොකද'
කියමින් සැනසුවා සුමිහිරි බස්    බොළඳ

9 ගත විය කලක් අවුරුදු දහයක්    ගෙවුනී
ඇසුර ද තුන් දෙනාගේ අඩු විය    කෙමෙනී
මැහුම් ගෙතුම් හා සිය බස දත්    රමණී
හීන් මැණිකෙ දැන් හරි ලස්සණ    තරුණී

10 අදිරි ගොවිපලේ හැම වැඩවල    සූරයි
ගමේ බරපතල වැඩ ටික ඔහු    බාරයි
ටිකිරි දැන ඉගෙණ ගුණ නුවණින්    මෝරයි
මේ තුන් දෙනාට ම දැන් හොඳට ම    සාරයි

11 පායන පුන් සඳක් මෙන් වැසි වට    සැණිනී
නාගෙන ගෙදර එන මේ සුන්දර    තරුණී
කුඹුරෙන් ගහට යන මඩ ගෑවුන    ගතිනී
අදිරිට මගදි සැන්දෑවක මුණ    ගැසුනී

12 නියරෙන් ලියැද්දට බැස මග හැර    අදිරි
සුන්දර මුහුණ බැලුවා උතුරණ    මිහිරි
කලකින් මුණ ගැසුන අර ඉස්සර    මිතුරි
දැන් හරි ලස්සණයි මල් ඉතිරෙණ    කුමරි

13 මතක් විය අතීතය ගැන එක    විටම
සිතිවිලි පහළ විය නාඳුනනා    තරම
'කොහොමද ඉතින් කොහොමද? කලකින් මෙහෙම
හමු වුන එක නො වෙද? ඇත්තට හරි    පුදුම'



14 අදිරිගෙ බසින් ඔහු සිත තරුණිය    දුටුවා
වුවමනා නො වේ තව මේ ගැණ    අටුවා
පෙම් දෙව් දූ කොමෝ මුන් මගතුර    සිටුවා
ඉරණම නළලෙ කොටමින් හරියට    නැටුවා

15 'හොඳයි මැණිකෙ යනවා දැන් රෑ වෙ    නවා
අප පෙර කල පතා ගත් හැටි හරි ය    නවා
මාත් හවස් ජාමෙ ගෙදරට එ    නවා
ඇවිත් අංගො නැන්දම්මා හමු වෙ    නවා'

16 වචනෙන් දෙකෙන් තම අදහස මෙහෙම    කියා
අදිරි ගහ දෙසට ඇඟ හෝදන්ට    ගියා
ඇය හදවත තුළේ ටිකිරිට තිබෙන    දයා
මතු විය බලන්නට මෙන් මේ මොකද    කියා

17 ටිකිරි පොහොසත් ය නැණ ගුණ දෙක    වැඩිය
අදිරි දුප්පත් ය ගත සිත හැඩි    දැඩිය
ඇගේ නියම ආලය මනිනා    පඩිය
අදිරිගෙ පැත්තෙ ලා බැලුවම බර    වැඩිය

18 අඳුරෙන් වැසුනු අහසෙහි බබලන    තරුය
කුසුමින් හඬක් නැත බමරුන්ගෙන්    දුරුය
සුවඳින් මුසුව එන මඳනල පිය    කරුය
මෙයහැන් දෑවෙ කටුරොද අද තොර    තුරුය

19 අංගොගෙ ගෙදර සාලෙහි මැද මේසෙ    උඩ
බූමිතෙල් කුප්පියට අද බොහොම    වැඩ
අස්පස් කිරීමේ කටයුතු නිසා    හැඩ
බැලුමට වත් හීන් මැණිකෙට නො'මැත    ඉඩ

20 වෙනදට වඩා ලහි ලහියේ අද මේ    ම
සැරසිලි ඇයි කියා නො ම දන්නා තා    ම
අංගොහාමි මේවා ගැණ නො තකා    ම
පුදුම ද? කුස්සියේ කුරහන් හැදි ගෑ    ම

21 එළිය හුලක් ගත් කිසිවෙකු ගෙට    එ න වා
අංගෝ දුටු නිසා තම දුවනිය    බ ණ වා
'වරෙන් කුස්සියට කුරහන් රොස්    වෙනවා
එන අය බලන්නට මම සාලෙට    එ න වා'

22 දියනිය කුස්සියේ කුරහන් ලිප    ගා වා
අංගෝ අමුත්තා පිළිගන්නට    ආ වා
අදිරි එළිය හුල ගෙයි මිදුලේ    ලෑ වා
ගෙට ගොඩ වැදී 'ආයු බෝවන්'    කී වා

23 'හරි කලකින් නොවැ මේ ළමයා දූ    ක්කේ
මොකදෑ ළමයො අද මේ රෑ අරුමැ    ක්කේ
ඉඳගන්නකො පුටුව කබලක්වට ම    ක්කේ
සැප සේ නේද? අප වයසක ගම ලො    ක්කේ

24 මේ යල අස්වැන්න සරු සාරයි නේ    ද?
කුරහන් හේන හොඳ විදියට පැසුනා    ද?
බතල මයියොක්කවල අල බැහිලා    ද?
මහට වපුරන්ට දූන් හානව නේ    ද?

25 කටවහකාර නයි නයිදෙගෙ කැහැටු කො    ලූ
ගබන් රාළගේ දෝනිය බදිනව    ලූ
තුන්සිය හැට ද ම පන් කොළ වියන ගො    ලූ
නැන්දගෙ දුවත් කළුතර රස්සාවක    ලූ

26 හරක් හොරකමෙන් හිරගෙට ගිය    ක ළු වා
රෑයේ හොරා වික්කලු ගමගෙයි    එ ළු වා
හපුටු කිරාගේ අර තක්කඩි    කොලුවා
අපේ එළදෙනට පොල් පිත්තෙන්    තැ ලු වා

27 කයිතන්කාරයාගේ අර    අ ර න් ද ර
දූව ගෑණ රටේ වැඩි දූන් කයි    ක ත න් ද ර
හැම දමත් තියා ගන්නට    හොරෙන් බර
පුළුවනෑ ළමයො ඒකී වස    උ ප න් හෙර



28 මොන එකටත් එකයි ළමයෝ මට    ඉන්නේ
ඒකා තව ම නැහැ ඔය වැඩි පද    ද න් නේ
හීන් මැණිකෙගේ දවස ම ගත    ව න් නේ
පොත පත බැලීමට ඉඳගෙණ තනි    ප න් නේ

29 දූවේ ඇහුනා ද මේ අයියට    බොන්ට
පමා නැතුව තේ ටික අරගෙණ    එ න් ට
මේ ළමයටත් අද අරුමැක්කේ    ක න් ට
මොනවා නමුත් සූදනම් කර    ග න් ට'

30 'කණගාටුයි ඉන්ට බැරුවට රෑ    ක න් ට
තිබෙනව අද ටිකිරිගේ ගෙදරට    ය න් ට
කලකින් බැරි වුනා ඔහු වත් හමු    ව න් ට
ඇහුවයැ තාම හේතුව අද මෙහි    එ න් ට

31 අංගොහාමි නැන්දේ නුඹගේ දූ    ට
මා වාගේ කෙනෙකු හිමියා වෙනවා    ට
විරුද්දයක් නුඹගේ නැත්නම් රෑ    ට
සතුටුයි කටයුත්ත ඉක්මන් වෙනවා    ට'

32 කුස්සියේ සිටිය මැණිකෙට මෙය    ඇ සු නී
ඇගෙ සියුමැලි ගතේ දඩිය බිඳු    නැ ඟු නී
අංගොහාමිගේ සිත සතුටින්    පි රු ණී
ඇගේ සතුට ඈ බැලූ හැටියෙන්    පෙ ණු නී

33 'ඒකට වරද ඇයි ඇය තරුණයි    බො රු ද?
මේ ගෑණි ඇගෙන් ඇසුමත් යුතුකම    නොවෙද?
ළමයත් කැමති නම් කර ගන්නට    බි රි ඳ
මැණිකෙත් එකඟ නම් මම අකමැති    මොක ද'

34 මින් පසු ගත වුනේ එක් සතියක්    ප ම ණී
දූ න් අදිරියන්ගේ ගෙයි රූපත්    ත රු ණී
උන් දෙන්නාට කිවොත් උවමක්    පැ ර ණී
ර න් රස එකට එක් වූවට නැත    දෙ වැ නී

35 සතුටින් සමාදනෙන් සැපතින් ඉන් නා
දූක දූක සෙනෙහෙ බර මේ අඹු සැමි දෙන්නා
ටිකිරිගෙ ආදරය එලියට නො ම පෙන්නා
පුරුදු පරිදි ඔහු සඟවා ගෙණ උන් නා

36 උස් සිරුරකින් හෙබි සවි බල දූරු අ දි රී
දකුමත් ගමේ කාටත් හරියට මි හි රී
කොපමණ බර වැඩක් වුව තම වෙත ඉ දි රී
පත් වූ කිසි තැනක දී මොහු මග නො හරී

37 නමුත් ජීවිතය වෙන අතකට හැ රු නා
මැලේරියා උණ අප අදිරිට හැ දු නා
සවි බල පිරිහුනා ලෙඩ ගාපට වැ මු නා
කටයුතු වලට ඉන් පසු හෙණ හත වැ දු නා

38 උදේ හිටන් රුවන තරු වෙවුල නවා
සම් මස් ඇට නහර දනවා කකිය නවා
මැණිකේ ලඟින් ඉඳ ඉකිබිඳ වැලපෙ නවා
ඇගෙ දුක නිසා අදිරිගෙ දුක වැඩි වෙ නවා

39 ලැබෙන්නට බබෙක් දූන් මැණිකෙට ල හ ය
ඒ කටයුතු වලට වත් අතමිට හි හ ය
කුළුඳුල් දරුවගේ සුරතල් වල අ ග ය
සිතුනේ ඔහුට බැලුමට නොලැබෙන ව ග ය

40 විපතට විපත හමු වන තැන මහ විප ත
දුකකට හේතු විය මැණිකෙගෙ දරු උප ත
දුක් විය යුතු නො වේ ඇසුමට මේ පුව ත
උපන් දරුවාට අයියෝ නැත දෙ නෙ ත

41 දෙනෙත් නැති පුතා ගැණ කළකිරුණෙ නැ ත
පිරුණා පෙම් දියෙන් දෙ මහල්ලන්ගෙ සි ත
අදිරික් තමාගේ අඩ පණ ගැහුන ග ත
ගැණ නො සලකා වැඩ කටයුතු පටන් ග ත



42 දූන් ගොවිපලේ කටයුතු වල යෙදෙනු බැ රී
ගත පණ නැති දුබල වැරී ගිය අදි රී
වෙන යම් වැඩක් කර ගැණුමට කොහොම හ රී
පිළිවෙළ සොය සොයා යම්තම් දවස හ රී

43 ගමේ බර වැඩට නුසුදුසු වූ හෙයි නි
ටවුමක යම් වැඩක් කරණා අදහසි නි
කලකට යන්ට යන සිය හිමි නරඹමි නි
වැඩුවා ඔහු අකට පුතු මෙ තරුණ ගැහැ ණු

44 නෙත් අඳ පොඩි පුතාගේ මුව සිප ග ත්තා
බැලුවා බිරිඳ දෙස මේ දුරුවල ඇ ත්තා
අළුත් වෙවී ආලය සිත අට ග ත්තා
පිටත් වෙද්දි ගේ ගැණ සැකයක් නැ ත්තා

45 කෙස් රොදක් කපා නෙත් අඳ පුතුගෙ හි සින්
දවටා රෙදි කඩක සිහියක ලකුණ වි සින්
මැණිකේ ඔහු බලා කඳුලෙන් පිරුණු ඇ සින්
දුන්නා ඔහු අතට මසුරන් ගොඩක ලෙ සින්

46 දෙවියන්ගෙන් ලැබුනු පඩුරක් මෙන් තු ටි නී
පිළිගත්තේ ය ඔහු එය නිසි හර ස රි නී
ගමනට හිතක් නැති මුත් පියවර නැඟුනී
පිට වෙන කොට ම දෙරකඩ ලිස්සා වැටුනී

47 ඇඟ පන දුබල මුත් හිත තව එඩි ත ර ය
ඔහු සැලකුවේ නෑ බාදක අත ව ර ය
මුලු ඇහට ම වැඩිය තම හදවත බ ර ය
අර දුන් පඩුර දූන් ඔහුගේ බඩ තු ර ය

48 සිත ගෙහි තබා ගත ගෙණ යන දුබල ලෙඩා
මග ගස් සෙවන යට නැවතී හරී වි ඩා
ඔහු ගේ දුක කියන්නේ කාහට ද දෙ ඩා
මරණය හොඳයි වෙන් වී යනවාට ව ඩා

49 දුප්පත් පැලේ තම පෙම්බර තරුණ   කත
නෙත් අඳ කුඩා පුතු හා තැවි තැවී   ඇත
මේ වග සිතන විට අදිරිගෙ අබිරු   සිත
ගින්නට ලං කරපු ගිතෙලට දෙ වැනි   නැත

50 පෙර සවි බල දැත දූන් ඇට කූරු ගො   ඩයි
අදිරිගෙ උස් සිරුර දිරූ පඹයෙකුගෙ හැ   ඩයි
අයතිය ජීවිතේ ඇත්තේ ඔහුට අ   ඩයි
ආලය නිසා එය සිය ගුණයකින් ව   ඩයි

51 කොළඹට පැමිණි මොහු යුද සේවෙට බැ   දුනා
දුබල ගත යළිත් සවි බල ලෙස හැ   දුනා
නිලදරින්ගෙ සිත මේ මිනිහට ඇ   දු නා
පිට රට යුද පිණිස නැව් නැගුමට යෙ   දුනා

52 යන බව කියා මැණිකෙට ලියුමක්   ලී වා
ඔහු පිටරට ගියා කරණු ව යුද   සේවා
සිංගප්පූරුවෙන් මුල් ලියමන   ආ වා
වෙඩි වැද අතක් කැපු බව ලිපියෙහි   වූ වා

53 මැණිකේ මුල පටන් සකසුරුවම   දන්නා
කඩියප්පන් තනා ජීවිත රක   ගන්නා
සිය හිමියාගෙ තිරසර ආලය   වන්නා
වෙනස් නො වන බව අදහා ගෙණ   ඉන්නා

54 කලක් ගත වී ය ලියුමක් නැත ආ   යේ
ඇ නො ම දනී ඔහු හට මොන ව ද වූ   යේ
පුන් සඳ වගෙ නගින පසළොස්සක පෝ   යේ
ඇයට සැකක් නැත ආලය හිමියා   යේ

55 නෙත් අඳ පුතු දූනට පස් වසරක   ව ය ස
සෙල්ලම් කරණවා ගේ මිදුලේ   ස ව ස
දුටුවා අමුත්තෙක් පසු කර යන   නි ව ස
ඔහු නැවතුනා මොහොතක් බලමින්   එ දෙස



56 එ තැන් පටන් මගියා දවසක්   පා සා
ගෙණත් දෙයි යමක් ලමයා වන   ආ සා
ඔයින් මෙයින් ලමයා නැති මුත්   දෑ සා
මග රැක සිටී මොහු එන තුරු නො ව   වේසා

57 ඇඳුම් බැඳුම් හා තව රසවත් කෑ   ම
ගෙණ එන්නා කවුද ලමයට හැම ද   ම
බලා ගන්ට මේ මගියගෙ පැමිණී   ම
මැණිකේ රැක සිටියා දවසක් මේ   ම

58 හය වෙන කොට පමණ මේ මගියා   ආ වා
නෙත් අඳ බබා දූන් සතුටින් ඔහු   ගා වා
මොනව ද දුන් දෙයක් ලමයා ගෙණ   කෑවා
කමින් සුරතලට මොන මොනව ද   කී වා

59 මැණිකේ මේ අමුත්තා අඳුනා   ග ත් තා
ටිකිරි බණ්ඩාර ඇය දන්නා   ඇ ත් තා
මොහුට ආදරෙයි තම පුතු නෙත්   නැත්තා
ඒ බව ඔහුගෙ හැසිරීමෙන් දැන   ග ත් තා

60 තව තුන් වසක් මේ ආකාරෙ ම   ගෙ වු නී
හිමියා වෙන් ව ගොස් අට වසරක්   පි රු ණී
දුකින් වෙසෙන මේ කණවැන්දුම්   ත රු ණී
ඔහු ජීවතුන් අතරේ ඇද්දැයි   නො ද නී

61 ගමේ ගොඩේ ඉඳ හිටලා පැතිරෙ   න්නේ
ඔහු මළ බවයි දූන් කවුරුත් පවස   න්නේ
මැණිකෙට මෙ බව කිසි විට නැහැ ඇදහෙ   න්නේ
අද හෝ හෙට එතැයි මග බලමින් ඉ   න්නේ

62 අංගොහාමි දවසක් ඇය වෙත ආ   වා
ඔහු මළ පුවත ඈ දැනගත් බව කී   වා
'නැහැ ඔහු මැරී නැහැ, ඔහු ජීවත් වේ   වා'
මැණිකේ අඬ අඬා දුක් කඳුලෙන් කී   වා

63 'සිමන් මුදලාලි ඊයේ ගිය ගා ලූ
ඔහු මළ පුවත පත්තරයක දුටුවා ලූ
සෙලෝ කඩ මණ්ඩියේ විකුණන මා ලූ
අදිරි මැරුණු බව සොපියට කීවා ලූ

64 පියුම් මහත්තය මේ කවුරොදට එ න
දැන ගෙණ තියෙනවා ලූ මේ මරණෙ ගැ ණ
මළ ගිය අදිරි වෙනුවට තව තියෙන ප ණ
මට කණගාටු දුව දුක් විදිනවායි න

65 දර විකුණන්ට කොළඹට ගිය අර පා ලූ
වත්තේ මහයාට දන්නේ නැති වී ලූ
අදිරි මැරුණු බව දූපතක දි පි ලූ
'වයර්ලස්' එකෙන් කියනව ඇහුනා ලූ

66 කළුතර උදලුගමලගෙ ගෙයි සිට ඊ යේ
හැන්දැවේ නො වෙ ද නැන්සී කෙලි ආ යේ
ඒකිගෙ යාළුවෙක් ඇති ඇබිසිනියා යේ
මේ ගැන ලියා එව් බව මේ දූන් කී යේ

67 හෝදන කොට උදේ මම ළිද ළග මූ ණ
ආවා රෙදි ගේන අර මිනිහා වී න
දුටුව ලු එහි දි ඔහු අදිරිගෙ මළ සෝන
අහක දමන්ට ද උගෙ කියමන කෝම'

68 'අම්මේ මොන බොරු ද ඔය පළ වන ඕ වා
නිදුක් නිරෝගි ව ඔහු ජීවත් වේවා
මේ බොරු ආරංචි මින් පසු මා ගාවා
නො කියන්නැ'යි මැණිකෙ ඉකි ගසමින් කී වා

69 ගත වූ කල මුළුල්ලේ මොන යම් දී ගේ-
කට හෝ දෝනි බැඳුමට තැත් කළ ඇ ගේ
අදහස හරි නො යන්නෙන් මව මැණිකේ ගේ
ගියා පස් නො පාගන්නට යළි මේ ගේ



70 කවදත් මෙහෙම පළ වන පුවතින් වෙන ස-
කට පක් නො වන මේ කණවැන්දුම් දිගැ ස
දිවි ලෙස සිතා පතිවත රැක හිමි පිණි ස
යහපත් පරිද්දෙන් ගෙවුවා කල දව ස

71 ඇය බලවත් දුකින් පසු වන බව ද න්නා
ටිකිරි බණ්ඩාරගේ සිත වැලපෙ න්නා
තවමත් තනිකඩ වු ජීවිතයක ඉ න්නා
ඔහුගේ ආදරය එළිමහනට එ න්නා

72 නිතර ම පාහෙ අදිරිගෙ අඳ පුතු දකි න
ඔහු සිත දැවෙයි ගිනියම් යකඳක් ලෙසි න
දවසක මැණිකේට තම සිත තුළ තිබෙ න
අදහස කියන්නට ඔහු සිතුවා පැමි ණ

73 ලස්සණ අහස නව සිතුවම්වල අ සිරි
දක්වන සවස් කාලෙක ලෝකෙ ම මිහිරි
මැණිකේ වෙසෙන දූප්පත් පැල වෙත ඇදිරි
ගියා මේ කෝරළේ කරවන ටිකිරි

74 නෙත් අඳ බබා ඔහුගේ හිතවතා අ ද
ගෙට ආ බැවින් සතුටින් පිරි පිරී හ ද
ඔහු ලඟ කියද්දී සුරතල් කතා හො ද
ටිකිරිට මතක් විය අදිරිගෙ කතාව ද

75 මැණිකේ අමුත්තා සතුටින් පිළි ග ත්තී
සැලකිළි කළා යොදමින් ඇගෙ ඇති ස ත්තී
ටිකිරිට දකින්නට ලැබුනේ මේ ඇ ත්තී
කලකට පසු ය සිහි විය පසු ගිය වි ත්ති

76 'කුඩා කාලෙ මේ ගඟ වැලි ත ලා වට
ගියා අප තිදෙන සමහර වෙලා වට
බහින් බස් ව දෙන්නා කළ කතා වට
ආවේ උඹ කීව දේ සිහි වෙලා මට

77 අදිරි සමග කළ හැම තරගෙක දී  ම
දුබල මට උරුම වූයේ පැරදී  ම
ඔක්කෝට ම වැඩිය උඹ මට නො ලැබී  ම
සිතුවෙමි ලොකු ම පැරදුම බව හැම ද  ම

78 එහි ලොකු වරද මා අත බව දනිමි ම  ම
කිසි විට නො කීවෙමි මගෙ ආලෙහි තර  ම
ඇති බව දනිමි ඔහුටත් මට ඇති ඇහැ  ම
මැණිකේ බැන්ද එක ගැණ මට නැත පුදු  ම

79 ඔහු හා සැපෙන් උඹ වෙසෙතැයි තුටු වුයෙ  මී
වටින් පිටින් මම විපරම් කර බැලි  මී
මගෙ ආලයට නැගිටින්නට නො ම දුනි  මී
එතෙක් මෙතෙක් මම තනිකඩ බව රකි  මී

80 ගමෙන් වෙන් ව ගොස් ඔහු දූන් දිගු කලෙ  ක
යළි මෙහි ඒ ද යනු සැක කටයුතු දෙයෙ  ක
උඹ දුක් විඳිනු මට නො දැරිය හැකි දුකෙ  ක
දූන් මගෙ ආදරය මට සැඟවිය නො හැ  ක'

81 'වෙනසක් නැති ව අට අවුරුද්දක් කා  ලේ
රැක්කෙමි දූප්පතා වෙනුවෙන් පිදූ ආ  ලේ
පිළිගන්නට ඔබේ කරුණා මේ වේ  ලේ
අනේ බණ්ඩාර මැතිඳුනි! සිත නෑ  ලේ

82 ඔහු මළ පුවත ඇසෙතත් මට හැම තැන  ම
මම විස්වාස නො කරමි මැතිඳුනි! තව  ම
අවුරුද්දක් බලා ඉන්නට මට මෙහෙ  ම
දෙතොත් කියන්නම් ඉන් පසු මගෙ හැඟු  ම'

83 'පුරා අට වසක් උඹ ගැණ සිටිය ම  ට
සැලකිය හැකි ද? එය දිගු කාලයක් කො  ට
ඕනෑ තරම් කාලය ගත හැක ඔබ  ට
කැප වී සිටින්නම් මම මැණිකෙගෙ නම  ට'



84 ගත විය අවුරුද්ද දුක සැප දෙන  ලොවට
නැත පුවතක් අදිරි ජීවත් වන  බ ව ට
මැණිකෙගෙ ආදරය තව පවතී  ඔ හු ට
මළ නොමළ බව මෙ තුවක් රහසකි  ඇ ය ට

85 ටිකිරි පැල් පතට යළි දවසක්  ආ වා
'දෙළොස් මාසයක් ගත වූ බව'  කී වා
ඇය ඉඳගෙණ පුදුම මේ මිනිහා  ගා වා
ඔහු දෙස බල බලා දුක් කඳුලෙන්  නෑ වා

86 'ඇයී උඹ අඬන්නේ ? ඇයි ඔහු ගැණ  ඉන්ට
තව කාලයක් නම නියමෙන් අර  ගන්ට
බලාපොරොත්තු ව මැණිකේ බැඳ  ගන්ට
ඕනෑ කාලයක් පුළුවනි මට  ඉන්ට'

87 'එහෙනම් තවත් අවුරුද්දක් මට දෙ  නවා
ඊට පසු මගේ අදහස පවස  නවා
අයියෝ මට දුකයි මගෙ අදිරිට මො  නවා
වීදූයි දූනුත් මගෙ හදවත කකිය  නවා'

88 පැල්පත කෙරෙන් වෙන් වී යන ටිකිරි දූ  ක
වැඩි විය හීන් මැණිකෙගෙ හදවතෙහි දු  ක
මෙ තරම් කලක් කණවැන්දුම් ගැහැණිය  ක
පතමින් සිටින මොහු මහ පුදුම මිනිහෙ  ක

89 යන එන බව ටිකිරි මැණිකෙගෙ පැල්පත  ට
ලොකු ආරංචියක් විය කටුරොද ගම  ට
ලිඳ ලඟ ගහ අසල තව එළිපත උඩ  ට
රැස් වන ගැහුණු පවසති මෙ පුවත රස  ට

90 'මැගියෝ මොනවට ද ඔය බොරු පඳ නෝ  ද
ඇත්තට ටිකිරි බණ්ඩා එහි යනවා  ද
කණවැන්දුම්යකට මේ තරමට හා  ද
වූයේ ඉනා බේතක් වත් කැවිලා  ද

91 දවසක් රිදී නැන්ද මැණිකෙගෙ පැල ට
යන කොට ටිකිරි සිටියලු එහි කර කව ට
මට පුදුමේ මැගියො ඇයි කිව්වට උඹ ට
ටිකිරි අසු වුණා ගැණ මේකිගෙ දැල ට

92 වතු පිටි හරක බානා නිළතල තව ද
ටිකිරි බණ්ඩාට මොනවායින් හීහ ද
ඒකිගෙ පැල්පතට රිංගන්නේ මොට ද
කුමාරිකාවක් බැඳ ගන්නට බැරි ද

93 කාගෙත් ගමේ හොඳකම ගැණ නැති වා දේ
ටිකිරි බණ්ඩාර මහතා හට වූ දේ
පොළොව නුසුලන මේ මහ අපරා දේ
කළ කණවැන්දුමිය පා කළ යුතු මූ දේ

94 බරන්දෙණි රාළහාමිගෙ එක ම දූ ව යි
ඇ ගැණ ටිකිරි නො කැමති පුරුවේ ප ව යි
කණවැන්දුමියගේ ගෙට හැම දම දූ ව යි
මේවා පෙණෙන කොට හරියට පපුව ද ව යි

95 ඒක යෑ මැණිකෙ දන් ආඩම්බර පා ට යි
පෝයට ඇඳපු සාරිය ලා නිල් පා ට යි
කතා බතාවත් උගතියකගෙ පා ට යි
කණවැන්දුමිට කල දවසක් එන පා ට යි

96 පසු ගිය පොසොන් පෝයට වැඳුමට කැළ ණී
ටිකිරිත් එක්ක කාරෙකකින් මේ ගැහැ ණී
යනවා සැරසිලා කණ කර අබරණි නී
දූටුව ලු දෙන්වොහාමිගෙ මද්දුම දිය නී’

97 මේ වගෙ ඔප දූපා රට පැතිරෙ න්නා
ටිකිරිගෙ පෙම් ලතාවේ මල් පුබුදි න්නා
මැණිකේ අදිරි වෙනුවෙන් කල් යල් ග න්නා
පුදුම ජෝඩුවකි බැලුව ම මේ දෙ න්නා



98 නිතර ම පාහෙ යන එන මැණිකෙගෙ ගෙද ර
ටිකිරිගෙ සිතේ වැඩි වෙයි ඇ ගැණ අද ර
මේ පිළිවෙළට කාලය ගෙවෙනා අත ර
ලැබුවේ අදිරි ගිය එකොළොස් වන වස ර

99 බඩවෙටි මල් පඳුරු මුඩුබිම් පිසිමි න්නේ
කටුරොද ගම්මානයට මඳනල එ න්නේ
පුර පසළොස්වකට පුන් සඳ පාය න්නේ
මැණිකේ නිසා බව ටික දෙනෙකුයි ද න්නේ

100 වෙල බඩ මල් පඳුරුවල මල් පුබුදි න්ට
මී මැස්සන්ට රස මීයක් බැඳ ග න්ට
මිහිරි සිහින බැලුමට කිරි දරුව න්ට
පුළුවන් වේ ද මැණිකේ මෙහි නො හිටි න්ට

101 කටුරොද මඩ වගුරු වල මානෙල් ඕ ලු
මැණිකෙගෙ මුහුණ බැලුමට පොර කනවා ලු
පැල්පත තුල තනි ව වෙසෙනා ඇගෙ පා ලු
කැපුමට සුළඟ රස ගී පවසනවා ලු

102 රුවැත් තියක් මුත් කුලදම් සි රි ත් සෙවී
ඇවැත් නො මැති මේ මැණිකෙට හිතැත් ති වී
ජ ග ත් සිරි ඇ වෙනුවෙන් අ ළු ත් වෙවී
අ ද ත් කියයි රස සංගී ත ව ත් ක වී

103 නෙත් අඳ පුතා දවසක් මව වෙත පැමිණ
සිප ගණිමින් නො පෙණෙතත් මවගේ මු හු ණ
‘අම්මෙ මේ ළමයි හොඳ නැහැ බොරු කි ය න’
කිව්ව ම ඇ විතාළා මොකදැයි කරුණ

104 ‘මල් ලස්සණයි හොඳ හොඳ පාටයි’ කී වා
‘පෙණෙනවා’ ‘දකිනවා’ කියනා ඒ වා
මොනව ද අම්මෙ මම අහ ගන්නට ආ වා
තෝරා දෙන්න මම දන්නේ නැහැ මේවා

105 මල්වල හොඳ සුවඳ මිස පාටක් කොහෙ ද
ඒවා මොලොක් බව තේරෙනවා මට ද
'එළියක්' කියා මොකවත් හෙම තියෙනව ද
මට තේරුම් ගන්ට අම්මේ බැරි මොක ද

106 උණුසුම දැනේ දහවල් මට රැයට ව ඩා
වෙනසක් හෙම තියෙනව ද මෙහි මෙයට ව ඩා
මට නොදැනෙන්නෙ මම කණ කොලුවෙක්ලු කුඩා
ලොකු වෙන කොට දැනේවි ද මම අසමි අ ඩා

107 ඇඟිලි තුඩට මල් පෙතිවල ඇති මෙලෙ ක
මට දැනෙනවා එය අල්ලන හැම විටෙ ක
'පාට' කියා ඇත්නම් ගතියක් මල ක
අම්මේ අත නොගැවෙන එක තමයි දු ක

108 'ලස්සණ' කියන දේ නැහැයට වත් කණ ට
මගේ දිවට හරි මගෙ අත පය වල ට
නො දැනෙන්නේ මොක ද තෝරා දෙන කල ට
ඉවසා ගෙණ ඉන්ට අම්මේ බැරිය ම ට

109 ඇයි අම්මේ අඬන්නේ මේ කඳුළු හෙලා
මට දැනෙනවා යයි මගෙ අත දිගට ග ලා
නාඬන් අම්මෙ නාඬන් මම විහිළු ක ළා
එන්ට ද ගොසින් බොරු කී කොල්ලන්ට ත ලා'

❋ ❋ ❋

110 මදුමල් පිපුණු කටුරොද ව ස ක ට ප සු ව
මදනල හමයි සුමිහිරි සු ව ඳ ට මු සු ව
තනිකඩ ජීවිතේ රස බලනට වි සු ව
ටිකිරි මගට වනි බර හැ ඟු ම ට අ සු ව

111 'මෙතෙක් පතා සිටිනා ඇය අද මො න වා
කියනවා ඇද්ද' සිතමින් ලත වෙ න වා
'කල් වුවමනා නම් ඇය හට කල් දෙ න වා
සිතමින් ටිකිරි මැණිකෙගෙ ගෙට ගොඩ වෙ න වා'



112 මැණිකේ ඔහුගෙ අද දවසේ පැමිණී ම
බලා පොරොත්තු ව සිටියා ඉඳුරා ම
පැහැර හරින්නට ඔහුගේ අයැදී ම
අමාරු පාටයි වෙන ද වගෙ හේ ම

113 'කොහොම ද ඉතින් මැණිකෙගෙ අදහස එ හෙ ම
කොපමණ කලක් අපි ගත කරමු ද මෙහෙම
බලා පොරොත්තු ද උඹ ඔහු ගැණ ත ව ම
නැතහොත් අද ම කර ගණිමු ද නම නි ය ම'

114 ඔහු දෙස ඈ සෙනෙහෙ බර බැල්මෙන් බැ ලුවේ
අදහස් ගොඩක් ඒ එක දෙ නෙතින් හෙ ලුවේ
එතන යි සෙනේ ගඟ හරි හැටියට ගැ ලුවේ
මලක් පිපුණ වාගෙයි ටිකිරිගෙ ඔ ලුවේ

115 * මින් පසු ගත වුනේ එක් සතියක් ප ම ණී
දුන් ටිකිරිගෙ වලව්වේ රූපත් ත රු ණී
උන් දෙන්නාට කීවොත් උවමක් පැ ර ණී
රන් රස එකට එක් වූවට නැත දෙවැනී

116 ස තු ටි න් සැපෙන් කල් යවනා මේ දෙ න්නා
දෙ නු ව න් සදිසි කොට අද පුතු රැක ග න්නා
දු මු ව න් නුවන් සිතුවන් මන් හැර ග න්නා
මොහු දෙන්නා නිසා කටුරොද බබල න්නා

117 මේ මංගල්ලෙ වී ටික කල් පසු වූ වා
රට තොට කතා ගැහැණුන් අත් හිටවූ වා
ආගන්තුක කෙනෙක් ගම්මානෙට ආ වා
නොන්නිගෙ කඩේ ඔහු නැවතුන බව කී වා

118 කොහේ දෝ ඇත පිටරටකින් පැමි ණී
ඔහු ගත දුබල මිනිසෙකි ඇට ගොඩක වැ නී
නො කියන නමුත් වගතුග කෙනෙකුට දෙවැනී
ඔහු තරමක් දනී ගම තොරතුරු පැර ණී

* 34 වන කවිය බලනු

119 බත් කඩේ අයිතිකාරී වන නො    න්නී
සිව් සැට මායමේ හැම අකුර ම ද    න්නී
ආගන්තුක තැනැත්තා ගැණ විමස    න්නී
දවසක දැන ගැණීමට සිතමින් ඉ    න්නී

120 ගත කළ කිහිප දවසක් මොහු ලෙඩ ගා    නේ
තොරතුරු ගමේ නොන්නීගෙන් ඇසුවා    නේ
හැබැහින් දකින්නට නොන්නී දුටු සී    නේ
පුළුවන් වන බසක් ඔහු පිට කෙරුවා    නේ

121 ‘අදිරියන් නො වෙ ද මේ අර හයි කා    ර
අඳුනත හැකි ද දිරුව ම මේ ආකා    ර
ගත වුනු මාසයෙ දි ටිකිරි බණ්ඩා    ර
කර ගත්තා නො වැ මැණිකේ කරකා    ර

122 ‘පින් ඇති උඹට මා ගැණ කිසිවෙකුට හෙ    ම
කියන්නට එපා මින් පසු මගේ න    ම
උන්ගේ සැපට බාදවක් ඇති කෙරු    ම
බලවත් අපරාදයක් බව දනිම් ම    ම

123 ජීවත් වන්ට මට ටික දවසයි    ඇ ත් තේ
ඈ සැප සේ ය මට මරණය දුක    නැ ත් තේ
නො මැරී ඉන්ට මෙ තුවක් කල් ඇති    අ ත් තේ
ඈ වෙනුවෙන් තමයි මම වීරිය    ග ත් තේ

124 සීතල සුළඟ හා වැසි පොද ඇති    ස ව සේ
කළුවර පැතිර යද්දී තරු නැති    අ හ සේ
දුරුවල අදිරියන් බණ්ඩාරගෙ    නි ව සේ
වත්තේ කොණක නැවතී සිටියා    ර හ සේ

125 ලස්සණ ගෙදර සාලෙහි ඇවිලෙහි    ප හ න
විසිතුරු බඩු පෙනේ අදිරිට එහී    ති බෙ න
ජනේලෙකින් එබිකත් කර ගෙය    බ ල න
හොඳ හැටියට ඔහුට පෙණුනා මේ    ති දෙ න



126 අඳ පුතු ටිකිරි උකුලෙහි සුරතල්    පෙන් නා
රසවත් මිහිරි කවියක් කියමින්    උ න් නා
මැණිකේ ටිකිරි හා පිළිසඳරේ    ඉ න් නා
දුටුවා අදිරි විඳිනා සැප මේ    දෙ න් නා

127 ඉවසිලි නො දෙන සතුටකි අදිරිට    ඇ ත් තේ
හඬ පිට වෙතැයි දැතින් කට වහ    ග ත් තේ
‘මා ජීවත් ව ඇති බව මෙ පොළොව    ම ත් තේ
ඒ දෙන්නා තමයි නො ම දැන ගත    යු ත් තේ’

128 යන්නට පා නගන මුත් දුබලය සිරු    ර
උසුලන්නට අමාරුයි එහි තිබෙන බ    ර
අදිරී වෑයමෙන් ගෙවනෙව් දුරු කත    ර
වත්තෙන් මගට බැස එයි නොන්නිගෙ ගෙද    ර

129 රූ කඩපිලේ මැස්සේ නිදි ගත්    ඔ හු ට
නුපුරුදු වේදනාවක් දැනුනා    ග ත ට
මෙ තුවක් බියෙන් සිටි ඒමට ඔහු    ළ ඟ ට
‘මරණය’ පැමිණ පවසයි රහසක්    ක ණ ට

130 ‘පෙම්වත! නුඹ සමග නුඹ යන එන    නි ද න
හැම තැන මම ඇවිද්දෙමි නො පෙණෙන    ලෙ සි න
අද මා වැළඳ ගත මැන ආදර    සි ති න’
‘මරණය’ ඔහුට අමතයි කන්කළු    බ සි න

131 ‘කල තරමක් කෙළේ මෙ තුවක් මා    නු ඹ ට
වෙනස්කම් ය මරණය! තරහ ද    එ ය ට
සොයා ගෙණ යන්ට පළමුව උඹ    පි හි ට
උඹ ආවා නො වෙ ද? ගුණමකු මා    ළ ඟ ට

132 රන්කඳ මගෙ මැණික මින් කලකට    පෙර දී
දූන් සිහියට නැගෙයි ලං කර ගත්    ප රි දී
පෙම්බර මරණයේ උඹ ඒ වගෙ    මෙ හි දී
වැළඳ ගණිත් මා අමතක කොට    වැ ර දී’

133 තොන්නී දූන් ඔහුගෙ අවසන් මොහොත බලා
ලං වී සොවින් සිටියා දුක් කඳුළු හෙලා
අදිරි ඇයට දුරුවල ඇමතුමක් ක ළා
අමතා යමක් දී මේ ඉල්ලීම ක ළා

134 'මා මළපසු මෙ ගෙණ ගොස් මැණිකෙට දෙන්න
කෙස් රොද මේ සමග ඇත ඈ මට දු න්න
මැණිකෙයි පුතයි මගෙ ටිකිරියි යහති න්න
දිගු කල් වෙසෙත්වයි පැතූ බව පවස න්න'

135 හිමිදිරියේ ම ටිකිරිගෙ ගෙදරට නො න්නී
ගොස් ඔහු දුන් පඩුර ඈ මැණිකෙට දු න්නී
මළ අදිරිගේ අන්තිම බස පවස න්නී
මැණිකෙට අහෝ සිහිසන් නැති වී ය න්නී

* * * * *

136 වලව්වේ ඉදිරිපිට වත්තේ කොණ ක
අදිරිගෙ සොහොන් කොත ලඟ තැනු මල් පැල ක
මැණිකෙයි අඳ පුතයි ටිකිරියි හැම දිනෙ ක
මල් පහන් පුදනු කාටත් බැලිය හැ ක

– අවසන –

සුදෝසුදු

# ටිප්පණී

මෙහි මුලට යෙදෙන අංක, කවි අංක බව සැලකිය යුතුය.

1. මේ මුල් ම කවියෙන් එක වරට ම ග්‍රාමීය චිත්‍රයක් කියවන්නාගේ මනැස ඉදිරියේ පහළ වෙයි. මේ පොතේ විස්තර වන කථාවට කවියා මුල පුරන්නේ පිටිසර පවත්නා අමායාවී සරලත්වය පිළිබඳ රසය කුළුගන්වමිනි. මේ එක කවියෙන් අදහස් රාශියක් කවියා කැටි කර දක්වූ රහ මනහර ය. චිත්‍රය කවියා දුටු සැටියට ම කියවන්නාට ද පෙනේ. එය විශේෂයෙන් දක්වෙන එක්තරා පෙදෙසක් නො ව සාමාන්‍යයෙන් ලංකාවේ පිටිසර ගමක් පිළිබඳ චිත්‍රයකි.

මැදින්: ගම මැදින් ගලනා ගඟක් දකින්නට ලැබෙන්නේ කලාතුරකිනි. ගංඟාවක් සාමාන්‍යයෙන් ගම්වලට මායිම් වශයෙන් තිබේ. නමුත් කවියාගේ මේ ගම ඇත්තේ සිතුවිලි ලෝකයේ යි. එහෙයින් ගම මැදින් හෝ ගම උඩින් ගඟක් ගැලිය හැකි ය.

2. **රාළහාමිගෙ::** මෙය පහත රට මුලාදෑනීන්ට වැඩි වශයෙන් භාවිතා වන ගෞරව පදයකි. උඩරට 'රාළහාමිලාට' ආරච්චි මහත්මයා. ගමරාළ ආදී වචන යෙදේ. රාළහාමිගේ පුතා ටිකිරි බණ්ඩා' ය. මෙය උඩරට නමකි. මේ කාව්‍යයේ මුල පටන් අග දක්වා හැම තැන ම උඩරට වචනත් පහතරට වචනත් මිශ්‍ර වී තිබේ. එය දුර්වල කමකැයි සමහරකුට සිතෙන්නට පුළුවන. නමුත් කවියාට ඕනෑ කළේ එක් විශේෂ පිටිසර ගමක් දැක්වීම නො වේ. සාමාන්‍යයෙන් පිටිසර පොදු තත්වයක් වර්ණා කිරීම ය. එහෙයින් උඩරටින් වේවා පාතරටින් වේවා පිටිසර හැඳින්වීමට ඔහු වැයම් කරයි.

3. **අංගොහාමි:** මේත් පහතරට නමකි. ගම්බදව කොතනත් සුලභ ගැහැණු චරිතයකි. ඒ බව ඈ දෙඩන වචන වලින් හොඳින් පැහැදිළි වෙයි.

4. **බට ලී නලාව:** මෙයින් කියවෙන්නේ පිට රටින් එන බට ලී නලාව නො වේ නම් එය බෙහෙවින් සබරගමු පෙදෙසේ ළමයින් අතර තිබෙන කෙළි බඩුවක් විය යුතු ය.

**ගජ හපනා.** 'අති දක්ෂයා' යනු ගැමි බසින් කවියා කියූ සැටි යි.

5. **ගුඩු ඇදුම.** පිටිසර සෙල්ලමකි.

6. **හීන් මැණිකෙ.** උඩරට නමකි.

7, 8. මේ පද්‍ය දෙක කවියාගේ සරල කාව්‍ය රචනයට දෙස් දෙන සුළු වාග් ධාරාවෙන් යුක්ත ය. එක වචනයක් වත් අඩුවක් නැත; වැඩිත් නැත. 8 වන කවියේ අන්තිම පදය හැරුණු විට අනිත් හැම තැන ම ඇත්තේ ගද්‍ය පාඨයක මෙන් මුඛ්‍ය පද සම්බන්ධයකි.

9. අනවශ්‍ය වර්ණනාවකින් කියවන්නා වෙහෙසට පත් නො කර කෙළින්ම ඕනෑ කරන ප්‍රස්තුතය කරා ලංවීමට මේ නිදසුනකි. මේ කාව්‍යයේ ඇති විශේෂ ලක්ෂණය එය යි. 9 වැනි කවියෙන් ද අදහස් රැසක් කැටි කර දක්වන මේ කවියා අඳින්නේ ආදර්ශවත් සිංහල තරුණියකගේ චිත්‍රයකි.

හරි ලස්සන, මේ කවි විශේෂණය හීන්මැණිකෙ හැඳින්වීමට හොඳටම ප්‍රමාණවත් ය.

11. **''පායන පුන්සඳක්.........තරුණි''** උපමාව කොතරම් චමත්කාර ජනක ද? ඇ එන්නේ ජලස්නානයෙන් පසු ව ය. උපමාව ද තැනට ම ඔබී. ඇ එන විලාසය උපමාව නිසා ම කියවන්නාගේ මනැසට පැහැදිලි ව පෙනේ.

12. **නියරෙන් ලියද්දට**. පිටිසර තතු මේ කවියා හොඳින් දන්නා බව පෙනේ.

**මල් ඉතිරෙණ කුමරි**. විශේෂණ පදය උචිත ය. විශේෂ්‍යය ඊටත් වඩා උචිත ය. සුනිල් වලා නිලුපුල් පබලු ආදී උපමා රැසකින් තතනා පෙන්විය යුතු සුන්දරත්වය මේ කවියා වචනයකින් දෙකකින් පෙන්වයි.

13. අතීතය මතක් වූ විට පහළ වන සිතිවිලි වචනයෙන් ප්‍රකාශ කළ නො හෙන බව මෙයින් හොඳටම පැහැදිලි වේ.

**'කොහොමද, කොහොමද'** යනු දෙවරක් යෙදුනේ උන් දෙන්නා ගේ පපුවේ ගැස්ම නිසා විය යුතු ය. කවියා ඒ බව වචනයෙන් නො කියා අඟවයි. මෙය හැඟීම්වලින් පිරී ගිය තැනකි.

14. **අටුවා**. යන බෞද්ධ සාහිත්‍යයෙහි එන මේ වචනයෙන් කවියා පිළිබඳ එක් තත්වයකට ආලොකයක් වැටෙයි. කවියා 'අටුවා' අඳුනන්නෙකි.

17. තරුණියගේ සිත තුළ ඇති වුණ අවුල මේ කවියෙන් ලුහුඩින් නමුත් පැහැදිලි ව ප්‍රකාශ වේ.

18. **මේ සන්ධිස්ථානයකි**. කථාව අමුතු පැත්තකට හැරෙන තැනකි. හදිසියෙන් මේ කවියා කථාව කීම නතර කර ස්වභාව සෞන්දර්‍ය්‍යයෙන් උමතු වෙයි. එය ද මේ පොතේ විශේෂ ලක්ෂණයකි. එයින් ඉදිරියට විස්තර වන දෑයට සුදුසු පසු බිමක් සකස් වේ. හොඳ රාගයක් හෝ තාලයක් වයන්නට පෙර වීණා



වාදකයා වීණාවේ තත් පිරිමැද බැලීම හෝ නෘත්‍ය ජවනිකා මාරු වීමේ දී දක්නට ලැබෙන අපූර්ව සිද්ධියක් මෙන් මෙය කියවන්නාට පෙනේ.

21. **එළිය හුලක්**......මෙය නියම ගම්බද දර්ශනයකි.

**බණවා**. මේ කවියාට පරණ ගැඹුරු පොත පතේ වචන ද හුරු බව පෙනේ. ජන කවියන් අතර සැඟවෙන්නට වෑයම් කරන මොහු ඒ ගණයෙහි කෙනෙකු නො වන බවට මෙය ද සාක්ෂියකි.

22. එළියහුල මිදුලේ ලෑම, තාත්වික සිද්ධියකි.

23. **අරුමැක්කේ, මක්කේ, ලොක්කේ** මේ ගැමි වදන් කවියට නැඟීම කවියාගේ එක් බලාපොරොත්තුවකි. 'මක්කේ' යනු වැඩි වශයෙන් ව්‍යවහාර වන්නේ දකුණු පළාතේ ය. ග්‍රාම්‍ය ව්‍යව-හාරයෙන් ම අංගෙගාමී ලවා කථා කරවීම ( ) තාත්විකත්වයෙන් කවිය පණ පෙවීමකි.

24. ගම් වැසියන් අතර නිතර කෙරෙන්නාවූ තොර තුරු විමසීම මෙහි ගැබ් වී තිබේ. යළ, මහ අස්වැන්න ආදී වචන උචිත ලෙස යෙදී තිබේ.

25. පන් කොළ වියන ගොලු නැන්දගේ දුව රස්සාවකට ගියේ කලුතරට ය.

26. **ගමගේ**. ඇත්තේ උඩරට ය,

27. **'කයිතන්කාරයා'** නම් පහතරටියකු විය යුතු යි. 'හොරෙන් බර තියා ගන්නට පුළුවනෑ.' මෙයින් අංගොහාමි අර කයිතන් කාරයාගේ දුවට එල්ල කළේ විස පිරුණු ඇනුම් පදයකි. 24-28 කවි වලින් ප්‍රකාශ වන්නේ බෙහෙවින් ගම් බද ව කියන වාචාල කථාවන් ය. මේ කවිවල ද උඩරට මෙන් ම පහතරට ව්‍යවහාරයන් මිශ්‍ර වී තිබීමෙන් පෙනී යන්නේ කවියා ස්වකීය කවි චිත්‍රයට එක් පෙදෙසක් සීමා කරගෙන නො සිටි බව ය.

31. **අදිරි**. මගුල් යෝජනාව ඉදිරිපත් කළේ කෙළින් ම ඒ ගැන කථා කිරීමෙනි. අවංක ඔහුට ඒ ගැන 'අමුඛ්‍ය' හොරගල් ඇඹිලීමක් අවශ්‍ය නො වී ය.

22-33. **අංගොහාමිගේ** විලාසයත් පිළිතුරත් දුවනියගේ තත්වයත් අවස්ථාවොචිත ස්වභාව සිද්ධියකි.

34. මේ කවිය 1-15 වැනි කවිය හා සසඳ බලනු.

35 **ටිකිරි බණ්ඩා** ස්වකීය ආලය" කල් ඇති ව ප්‍රකාශ කළේ නැත මේ කවියේ දෙවෙනි පද දෙකින් ඒ බව හැඟේ. දැන් ටිකිරි පමා වුනා වැඩි ය

36 ඉතා පැහැදිලි නිරූපනයකි.

40 අත්‍යන්ත ඛෙද වාචකයකි. කවියාත් මේ විපත ගැන කණගාටු වෙයි. "අයියෝ" යන වචන කවියාගේ ශොකයට නිදසුනකි.

41 දරු ලත් පියකුගේ ස්වාභාවික උත්සාහය ප්‍රකාශ වේ.

43. මේ තරුණ පියා 'ටවුමට' පිටත්කර හරින්නට යෙදුනේ හොඳකට නම් නො වේ. එය එතරම් තාත්වික ද නො වේ.

45. **සිහියක ලකුණ විසින්** - සිහි වීමේ ලකුණක් වශයෙන්, මේ කවියා නො දැනුවත් ව ම ඔහුට පුරුදු උගත් පෙළේ බර වචන හැලෙන බව පෙනේ. ව්‍යාජ නාමයකින් පෙනී සිටින කවියා හඳුනා ගැනීමට මේ ලකුණු ය.

46. 'පිට වෙන කොට දෙරකඩ ලිස්සා වැටීම' ගමනේ කෙළවර ශොකාත්මක වන බවට පෙර නිමිත්තකැයි ගම් වැසියන් අතර පවත්නා විශ්වාසයකි. එය මෙහි දී නො සැලකීම කථාවේ අවසානයට තුඩු දෙන නිමිත්තකි.

49. **ගින්නට ලං කරපු ගිතෙල**. කවියා නො දැනුවත් ව ම පාරම්පරික සම්ප්‍රදායට අයත් උපමාවක් මෙහි යෙදී ඇත. කවියාගේ උත්සාහය පාරම්පරික සම්ප්‍රදාය බිඳගෙන යාම ය. නමුත් ගත යුතු තැන් ඔහු අත නො හරින බව ද පෙනේ.

50. මෙයින් කවියා මවා පාන රූපය ඉතා කදිමය. දීර්ඝ විස්තරයක් ලුහුඩින් කිරීමෙන් කථාන්තරය ව්‍යක්ත ලෙස කීමෙහිත් කවියා තුළ ඇති සහජ ශක්තිය මේ විස්තරයෙන් පෙනේ.

51. මේ කථා පුවතේ සිද්ධිය වූ වකවානුව සඳහන් වන තැනක් මේ කවියේ යෙදී තිබේ. එනම් 'මොහු යුද සේවයට බැඳුනා' යනු යි.

යුද සේවයට බැඳුණ අදිරි එපමණකින් නො නැවතී පිට රට ගියේ ය. මෙය නම් තාත්විකත්වයෙන් අඩු සිද්ධියකි. පිට රට යන්නට පෙර මේ තරුණයාට තම භාර්‍යාව දකින්නට යන්නට ඉඩ නැති වී ද?

52. පිට රට යන බව අදිරි තම බිරියට ලියමනකින් දැනුම් දුන්නේ ය. ඔහු ගියේ සිංගප්පූරුවට ය. මුල් ලියමන ආවේ සිංගප්පූරුවෙන් ය. 'මුල් ලියමන' ය කීවේ කොයි ලියමන ද? ඒ මුල් ලියමනට පසුත් ලියුම් ආවේ ද? සිංගප්පූරුව ජපනුන්ට යටත් වූ වකවානුවේ දී මේ සිද්ධිය වුයේ ය යි පෙනේ.

53. **මැණිකේ ජීවිතය** රැක ගත්තේ කඩයප්පන් තැනීමෙන් ය යි කවියා කියයි. යුද්ධ සේවයට බැඳුණ භටයෙකුගේ පවුලේ නඩත්තුවට කිසි යම් වේතනයක් රජය මගින් ලැබෙන බව මේ කවියා නො දන්නා සේ ය.



54. **කලක් ගත වීත් ලියුමක් ආවේ නැත**. මෙය ද තාත්විකත්වයට නොගැළපෙන තැනකි. හොඳයි පවුලේ නඩත්තුවට රජයෙන් යමක් නො ලැබෙතත් තමන්ට ලැබෙන වේතනයෙන් වත් යමක් එවීමට අදිරි අමතක කළේ ඇයි? මුදලක් තබා ලියුමක් එවීමට වත් ඔහුට සිහි නො වී ය. මේ නම් රහසකි. මේ තරුණ අදිරිගේ අතකුත් කඩා දමා 12 අවුරුද්දක් ම සඟවා තබන්ට කවියාට ඇති බලය කුමක් ද? මේ වනාහි කියවන්නා තුළ නිතැතයෙන් පහළ වන ප්‍රශ්න කිහිපයකි. මේ කාව්‍යය තාත්විකත්වය පිළිබඳ උරගලෙහි නො ඇල්විය යුතු තරම් සුකුමාර මෘදු වස්තුවකැ යි මා මුලින් ම සඳහන් කළේ ඒ නිසා ය.

55. **අඳ පුතුට දැන් වයස අවුරුදු 5 කි**. මේ කථා වස්තුව පිළිබඳ කාල සීමාව සොයන්නට වෑයම් කරනු.

57. **"මැණිකේ රැක සිටියා දවසක් මේ ම"** මේ පදය නම් කවියේ වෘත්තයට කොහෙත් ම නොගැළපෙන තැනකි. එය රිත්මානුකූලව නො කියවේ.

69. අඳ පුතුට ටිකිරි බණ්ඩාරගෙන් තෑගි බෝග ලැබෙන්නට පටන් ගෙන තුන් වසරක් ගත විය. කථා වස්තුවේ කාලසීමාව සොයනු.

62-69. තම සැමියාගේ පිට රට යැමෙන් පසු එක ගමේ ම වසන අංගොහාමි ඇගේ දූ හා දූගේ කුඩා දරුවාත් තනිකර දමා වෙන් ව විසූ බව මේ කවි වලින් පෙනේ. මේ ද තාත්විකත්වයට නොගැළපෙන තැනකි.

63. කඩමංඩියේ මාලු විකිණීම කෙරෙන්නේ උඩරටට වඩා පහත රට ය.

63-67 කවි වලින් ගම්බද ජනයාගේ ඕපාදූප කථා කවියට නඟා තිබෙන අයුරු මනහර ය. මෙයින් ගම්බද තත්වය ඉතා පැහැදිලි චිත්‍රයකට නැඟේ.

70. **දිගැස පතිවත රැක**. කවියාගේ භාෂාඥනයට දෙස් දෙන තවත් තැනකි.

73. කථා වස්තුවේ අළුත් ජවනිකාවක් විවෘත වන සන්ධි-ස්ථානයකි. එයට ම ගැළපෙන පසු බිමක් සකස් කළ ආකාරය මනහරය, ස්වාභාවික ජගත් සෞන්දර්‍යය කවියාගේ හැඟීම් ප්‍රකාශ කරනු පිණිස උපස්තම්භක වන අයුරු මෙයින් ප්‍රදර්ශනය වේ.

74. ටිකිරි බණ්ඩාර මැණිකෙට ආලය කළ ද අදිරි කෙරෙහි ඊර්ෂ්‍යා ඇත්තෙකු නොවන බව හැම තැනක දී ම පෙනෙයි. කථාවේ අවසාන භාගයෙන් එන මොනවට පැහැදිලි වේ. අදිරි කෙරෙහි ද

පහළ වන්නේ මේ විධියේ ම චෛතසික ස්වාභාවයකි. මොවුන්ගේ ආලයෙහි ඇති අමායාවී සුන්දරත්වය මේ කාව්‍යයෙහි ඇති ජීවාත්මයයි.

76. මෙය 4 වැනි කවිය හා සසඳ බලනු. අතීතය මතක් වූ ආකාරය දක්වීමට අතීත සිඩිය විස්තර කළ කවියට සමාන වූ තාලයකින් කවියක් පිළියෙළ වීම කවියාගේ විශේෂ ප්‍රතිභාන ශක්ති-යෙන් සිදු වූ දෙයකි.

77-80. මෙහි ටිකිරිගේ චර්යාවෙහි අමායත්වය ප්‍රදර්ශනය වේ.

81. මැණිකේගේ චරිතය මැනවින් නිරූපනය වේ. දූන් අවුරුදු 8 ක් ගත වී තිබෙන්නේ අදිරි පිට මං වීමෙන් පසුව ය.

85. කාලය අවුරුදු 9 ක්.

87. කල් දූන් දෙවැනි අවුරුද්ද යි. ගත වූ කාලය අවුරුදු 10 යි.

38. මැණිකේගේ හැඟීම් මතුකර පෙන්වන තැනකි.

89-96. ගමේ ගොඩේ ඕපාදූප මේ කවියා නගන්නේ හරියට ම පිටිසර තාලය ආරූඪ කර ගෙන ය.

98. **''ලැබුවේ අදිරි ගිය එකොළොස් වන වසර''** මේ මහා යුඩය ආරම්භ වුනේත් 1939 දී ය. සිංගප්පූරු යුඩය පටන් ගැනුනේ 1941-42 දී ය. මේ කාව්‍යය ලියැවුයේ 1943 ජනවාරි 1 වැනි දින බව ප්‍රස්තාවනාවේ කෙළවර කර්තෘගේ සටහනේ දැක්වෙයි. 1939 යුඩාරම්භ සමයේ ම අදිරි යුඩයට බැඳුන ද 11 වසක් ලබන්නේ 1950 දී ය. කථා වස්තුව කවි සිතක ජනිත වුන මායාවක් බව නො පෙනේද?

99-101. ඉතා චමත්කාර ජනක ස්වභාව සෞන්දර්‍ය්‍ය වර්ණ-නාවකි. කථාව දඩ මීමා කරගෙන කළ වර්ණනාවක් නො වේ. මේ සෞන්දර්‍ය්‍ය වර්ණනාවෙන් කථා රසයට පණදීම කවියාගේ උත්සාහය යි. කථා වස්තුවේ සන්ධිස්ථානයක සිරිත් පරිදි මේ කවියා ජගත් සෞන්දර්‍ය්‍ය වර්ණනාවෙන් ඊ ළඟ සිඩියට සුදුසු පසු බිමක් සකස් කරයි. මැණිකේගේ ජීවිතයෙහි උදවන්නට එන කාලය පරිච්ඡේදය විස්තර කරන්නට දූන් ලඟ ය. එහෙයින් ඇගේ සැපත, දුක් කම්කටොලු වලින් මිදීම, වාසනා මහිමය අභවන්නට මේ ස්වභාව ධර්මයේ වර්ණනාව ඉතාමත් උචිත ලෙස යෙදී තිබේ.

එහෙත් මේ ලඟ ම එන්නේ මැණිකේගේ වාසනාවේ ඉරණමේ හොඳ ම පරිච්ඡේදයක් නම් නො වේ. මේ තාක් කියවන්නා නුදුටු තවත් අඳුරු පැත්තක් දෙසට කවියා ඔහු යොමු කරයි. ටිකිරිගේ



සහායයෙන් මැණිකේගේ දුක් කම් කටුලු නම් කෙළවර වන්නට ලඟ ය. ඒ බව කියවන්නා අසන්නට බලාපොරොත්තු වූ විටක අනෙකකට ඔහු ගේ සිත යොමු කරවීම නෘත්‍යාත්මක නිර්මාණයකි.

102. ඇවැත්. බෞඩ භික්ෂූන් අතින් විනය ශික්ෂා පදයක් කඩවීමට 'ඇවැත්' සිදුවීමය යි කියති. ඇවැත් නැති ව සිටීම පිරිසිදු සිල් ඇති වීමේ ලකුණකි.

''යමක් ලියන කියන තැනැත්තා අයිති කිනම් සමාජයට ද යනු විසඳා ගැනීමට ඔහුගේ වචන උදවු වෙයි'' යන්නට මෙය සාධකයෙකි.

104-109. මේ කවියාගේ කවිත්වයට-නෛසර්ගික ප්‍රතිභානයට දෙස් දෙන ශ්‍රෙෂ්ඨ කවි පෙළකි. අනෙකකුගේ හැඟීම් ඒ අයුරින් විස්තර කර ප්‍රකාශයට පැමිණවීමෙහි ඔහු ලත් සාමර්ථ්‍යය මෙයින් මොනවට හෙළි වේ.

අඳ පුතාගේ බොළඳ ප්‍රශ්න ඇසීමෙන් මව තුළ ඇතිවූ ශොකය මේ කවියා වචනයෙන් විස්තර නො කරයි. එය සිතා ගැනීමට කියවන්නාට ඉඩ හරියි. එය ද මේ කවියාගේ සමාර්ථතාවකි. 'එන්ට ද ගොසින් බොරු කී කොල්ලනට තලා' මේ එක කවි පදයෙන් අඳ කොලුවාගේ චරිතය හොඳින් නිරූපණය වී තිබේ. ඒ කථා කළේ අදිරිගේ පුතා ය. අදිරිගේ ගති ගුණ ඒ ප්‍රකාශයෙහි ගැබ් වී තිබේ.

110. 'මදු මල් පිපෙන්නේ අවුරුද්දකට වරකි.' තවත් වර්ෂයක් ගත විය. කථාවේ ඊ ළඟ ජවනිකාවට මුල පිරුනේත් ස්වභාව ධර්ම වර්ණනයෙනි. හුරු පුරුදු සරල ගෙතුමෙන් යුත් කවියකි.

112. ''අමාරු පාටයි වෙන ද වගෙ හේම. මේ පදය මීට මුලින් දැක්වෙන කවි දෙකේ ඇති සරල මදුර ධවනියෙන් පිරුහුණු පදයකි.

114. මැණිකේ දුන්නේ ඇගේ මවු වන අංගොහාමි අදිරිට දුන් පිළිතුරට නො දෙවෙනි පිළිතුරකී. මේ පිළිතුරේ රසය ඊට වැඩි වනු නො අනුමාන ය. **'එතනයි සෙනේ ගහ හරි හැටියට ගැලුවේ'** යයි කීවේත් එ නිසා ය.

115. රාහුල හිමියන්ගේ ප්‍රස්තාවනාව බලනු.

116. කථාවේත් ඊට යෙදුණු භාෂාවේත් සරලත්වය අමතක ව කවියා ඉහළට නැඟුණ තැනකි. 'දුටුවන් නුවන් සිතුවන් මන් හැර ගන්නා (දකින අයගේ ඇස් ද සිතන අයගේ සිත් ද බඳනාහු.) පාරම්-පරික කවි සම්ප්‍රදයෙන් මේ කවියා ලැබූ දයාදයෙහි ශෙෂයකි මේ.

119. **බත්කඩේ අයිතිකාරි වන නෝන්නී.''** ගම්බද පරිසරය කවියාට අමතක වුණ බව මෙයින් පෙනේ. ගම්බද ව ඇත්තේ ගැහැණු සතු බත් කඩ නොව කෝපි කඩ ය. විශේෂයෙන් මෙහි විස්තර වන **කටුරොද** තරමක පිටිසරකි. නෝන්නීගේ කෝපි කඩයෙහි ඉඳ හිට ලා ආගන්තුක ඇත්තන්ට බත් ද විකිණෙන්ට ඇත.

122. අදිරි සැහවුනේ යහපත් අදහසිනි. ඔහුගේ ආලය නිසා ටිකිරි කෙරෙහි ඔහු ඊර්ෂ්‍යා නො කරයි. මේ කාව්‍යයෙහි කථා රසයට පණ දෙන නිර්ව්‍යාජ ප්‍රෙමයත් අවංක මිත්‍රත්වයත් මෙයින් විදහා පා යි.

124. සීතල සුළඟත්, වැසි පොදත්, කළුවරත් දුර්වල අදිරියන්ගේ මේ අන්තිම ගමනට එක් කළ කවියා එයින් නාත්‍යාත්මක නිර්මාණයක් කරමින් අවස්ථාවේ ඇති ශොකාකුල බව පැහැදිළි කරයි.

125. දූන් දූන් අදිරියන් නොව අදිරියන්ගේ අවතාරයකැයි සැලකිය හැකි යමක් ජනේලයකින් එබිකම කර හැල හොල්මන් කරන අයුරු කියවන්නාගේ මනැසට පෙනේ.

126. අව්‍යාජ ප්‍රෙමයේ ලකුණක් වශයෙන් මේ කවියා අදිරියන්ගේ අඳ පුතා ඔහුට පෙන්වන්නේ ටිකිරිගේ උකුලෙහි තබා ය. එයින් ඇති වන හැඟීම් වචනයෙන් විස්තර කළ නොහැක. ජනේලය අස්සෙන් එබිකම් කළ අදිරි දුටු චිත්‍රයෙන් ඔහුට අවබෝධ වූයේ ඔහුගේ භාර්‍යාවත් පුත්‍රයාත් සුව සේ කල් යවන බව ය. අවංක ව ඔහුට ඕනෑ කළේත් මේ ටික ම ය. ඔහුගේ ආලය සරාගී කෞතුකයක් නොවී ය. මේ කථා වස්තුවේ මුඛ්‍ය රසයත් සරාගී කෞතුකයක ක්‍රියාකාරි බලය නො ව අව්‍යාජ ප්‍රේමයෙහිත් අමායාවී චරිතයන්ගේත් ඉරණම ය.

128. **'ගෙවනෙව් දුරු කතර'** මේ ද කාව්‍යයෙහි සරල ගුණය අමතක ව කවියා අතින් ගිලිහුණු පාරම්පරික කවි සම්ප්‍රදයට අයත් ආලංකාරිකයන්ගේ උපමාවකි.

134. **'මැණිකෙයි පුතයි මගෙ ටිකිරියි'** මගෙ යන උප පදය යෙදිය යුත්තේ මුලින් සඳහන් දෙ දෙනාට ය. නමුත් එය මනොවිද්‍යානුකූල ව යොදා ඇත්තේ ටිකිරි විශේෂණ කරමිනි. සුදෝසුදුයෙහි එන ගැමියන් තිදෙනාගේ චරිතයෙහි අව්‍යාජ ගුණයත් ඊර්ෂ්‍යා විරහිත ආලයත් සුදෝසුදු බව මේ යෙදුමෙන් මෙන් ම හැම තැනකින් ම ස්ඵුට වේ.

**136. රාහුල හිමියන්ගේ ප්‍රස්ථාවනාව බලනු.**

සෝ, සෙ.

**නිමි.**




මුද්‍රණ සැලසුම් සැකසුම් - සෝමසිරි කස්තුරිආරච්චි,
දිවැස ප්‍රචාරකයෝ, 75, අවිස්සාවේල්ල පාර, වැල්ලම්පිටිය
මුද්‍රණය - කැප්ටන් මුද්‍රණාලය, ජෝ. ඩී. ඩෙවිඩ් මාවත, කොළඹ 10.

